# නාහිමි ගුණ වරුණ

(තෙවෙනි කොටස)

ඉසිඹු ලත් ඉදිසුරු පුජිත ජයවීර



නාහිමියන් විසින් මෑ ලියන ලද ලියැවිල්ලක මුල්මෑ වදන් වැලකින් උපුටා ගන්නා ලදී, "පහන තැබීම අපේ රටේ පැරණි චාරිත්‍රයකි."

පහන බුද්ධ පූජාවට, පිරිතට, බණට, මගුලට, අවමගුලට, ගෙවැදීමට, බත් කැවීමට, අකුරු කියැවීමට ආදී පහපත් ක්‍රියාවලදී යහපත්ප්‍රතිඵල ලබනු පිණිස දල්වති. එසෙමි කොඩිවින කරණ විටත් අවලාද කරන විටත් දල්වති. ඒ මරු පහනය. හෙවත් විපත්ති ඇති කරන හනය.

එම පහන නිසා ඇති වුණු පීඩාව ලෙඩ රෝග කෂායන් බෙහෙතින් සුව පත්නොවේ. විප, විපත ලෙසම සිටිනු ඇත. අද අප රට වැස්සා අතරේ ඇත්තේ කරුණාවෙන් මෛත්‍රියෙන් තෙත් වුනු සිතක් නොවේ. හේතුව මිනිසාගේ පාලනය භූතයා විසිනි. ඒ නිසා තුන් සරණ පන්සිල් පංචශීල ආදී බෞද්ධ ප්‍රතිපත්තිය කෙරේ ඇදුනු සිතක් මනිසාට නැත. එදිනෙදා ජීවත් වනු පිණිස මහන්සි ගැනුමකුත් අනිකාගේ සිරි සැපත නොරුස්නා ඉරියාවත්ය මිනිස් සිතේ ඇත්තේ.

ඉන්ද්‍ර, උපේන්ද්‍ර, දීපේන්ද්‍ර මේ තුසිත දෙව්ලොව වැසි සහෝදර දෙව්වරු තුන් පොළකි. ඔවුහු කුසල් කිරීමට සිතා කතිකා කර දීප ඉන්ද්‍ර තෙමේ මනුලොව පැමිණියේය. පැරණිම පොතකිනි. ඒ අමුතු පිළිවෙතක් ආරම්භ කළේය. ඒ මේ පහන් පිළිවෙතයි..

**පහන් පිළිවෙතේ ප්‍රතිඵල**

"හාමුදුරුවනේ අපේ ගෙදර මම තොවිල් එකසිය හතලිහක් කළා රටේ ප්‍රසිද්ධ මුන්නේශ්වරම් කතරගම ආදී හැම දේවාලෙකටම ගියා. ගෙදර ලෙඩ්ඩු පස්දෙනයි. අවුරුදු අසූවක් බුක්ති වින්ද ඉඩම අනුන් උදුරා ගත්තා. මේවා කියූ මිනිසා මාගේ ළඟට වාර හාරසිය ගනණක් ආවාලු. ගාලු පලාතේ සිට. මේ මන්ත්‍ර වලටත් දේවාල දෙයියන්ගෙත් බලමහිමයට අසුවුණු එක ගෙදරක තත්වයයි. මේ ගෙදර එදා විකල්ව සිහි අවසිටිය ඇතිව සිටි හතර පස් දෙනා දැනට සිහිය ඇතිව ජීවත් වෙති. මේ පහන් පිළිවෙතේ. ප්‍රතිඵලයකි.

තවත් එක් ජයසිංහ එදිරිසිංහ (කඩේ මහත්මයා) විශේෂඥ වෛද්‍ය ඇත්තන්ගේ නිගමනය කොඳු ඇටය දිරා ගිය බවයි. මා වෙතට ඒ ගෙදරින් ආපු අයට මා කීවේ කොඳු ඇටය තබා කෙස් ගහක් දිරුවේ නැහැ එක්කරන් එන්න කියායි. තනියම හැරෙන්න පෙරලෙන්න බැරිවම ඇඳටම වී සිටිය ඒ මහතා මා සිටිය තැනට ගෙනවිත් දවස් තුනකින් පාරේ යන රියෙන් තනියම ගෙදර ගියේය," (උපුටා ගැනීම අවසන්ය)

මේ ලියන මාද මේ මහත්මයා හොඳින් මැ හඳුනන්නෙකි. ඔවුන්ගේ පුත්‍ර රත්නයද සිරි උපුල්වන් බලය ලබා පහන් ක්‍රමයේ කරුණු හා පිළිවෙත් කියා දෙන්නෙකි.

පසු කලෙක මෙම මහතා හොරපාවිට විහාරස්ථානය ආලෝකමත් කරණු වස් ලොකු විදුලි ජනකයක් පූජා කළේය.

මේ ලියන මටද තවත් සිදුවීමක් සඳහන් කළහැකිය. අපගේ සහෝදරියක් අහේතුකව දෙකකුල් ඇබරීයාමෙන් පෙරළීමෙන් දැඩි දුක් වේදනාවක් වින්දාය. දෙකකුල් බිම තබා ඇවිදීමට දැඩිතර ආයාසයක් දරන්නට සිදු වූයෙන් සිය සැමියාද සමඟ පැමිණ නාහිමියන් ඉදිරියේ පැදුරේ අමාරුවෙන් ඇඳි ගත්විට නාහිමියන් සිය අත්ල විහිදා ආශිර්වාදයක් කළ පසු පැදුරෙන් නැගිට ආපසු කඹුරුපිටියට දෙපයින් සැ. 3 1/2 පමණ ගොස් පාරේ බසයෙන් ආපසු තල්පේ බලා ගියාය.

මෙය උන්වහන්සේ අත්ල විහිදා කළ මා දන්නා දෙවැනි සුව කිරීමය.

ඊළඟ මාසයට උන්වහන්සේ ආදී ජීවිතයක් ගැන පැවසූ තවත් වදනක් කරුණු ඇතිවැ ඉදිරිපත් කළ අන්දම.



මතු සම්බන්ධයි......



# නාහිමි ගුණ වරුණ 4

ඉසුඹුලත් ඉදිසුරු පූජිත ජයවීර

අද අප නාහිමියන්ගේ පෙර ඉපැදුනු භවයන් හා ආත්ම ගණන් මෙසේ සඳහන් කලෝ ය.

**උපුටා ගැන්මකි.**

පුරාණි පොත පතේ මගේ පෙර ආත්ම ගණන් ද්වීපඉන්ද්‍ර දිව්‍යනාග වලගම් අබා වට්ටගාමිණී. ඊට පසුව ආත්ම දහසයක් ලක් දිව උපන්නේ ය. ඒ ආත්ම දහසය මගෙන් කියැවිනි. ඒවා මෙසේ ය. දෙවැනි දෙටුතිස්, දෙවැනි අග්‍ර බෝධි, දෙවැනි පැරකුම්බා, කීර්ති ශ්‍රී මේඝවර්ණ, සිරි සඟබෝ බව මා කියූ පුවතක් - දිනක් රාජාංගන පෙදෙසින් දස සිල් මාතාවක් මේ ස්ථානයට පැමිණියාය, ඇයව මීට පළමු වරටම ඇයගෙන් මා විචාලේ සාලිය වැව ඉස්මත්තේ ඉදලද ආවේ. පිළිතුර වූයේ එහි, යන්නය. ඊලගට මා කිව්වේ එදා කාලයේ මගේ ඉහ අහසින් බිමට බැස්ස තැන හතර කොනේ ගල් කණු හතරක් ඇති, තාම එය එහි තිබේ ද? එහි තියනවා. මේ ප්‍රවෘත්තිය කීමෙන් මා සිරි සඟබෝ හැටියට ඉපදුනු බව මමත් සිතා ගතිමි. තවත් ආත්ම දාපුළුසෙන්, ධාතුසේන, කීර්ති කුමාර විජයබාහු, වෛද්‍ය බුද්ධදාස. මේ මහා කල්පයෙහි ම මතු අනාගතයෙහි මෛත්‍රය නම් සර්වඥතා ඥාණය ලබන්නා වූ දිව්‍යරාජයන් වහන්සේ නමක් තුසිත දෙව්ලොව වැඩ වසන්නේ ය. ඒ දිව්‍යරාජයන් ගේ දෙටු සොයුරු වශයෙන්, කනිටු සොයුරු වශයෙන් ද ද්වීපඉන්ද්‍ර තෙම - මේ මම ආත්ම භාවයන් දෙසියයක් පමණ උපන්නේ ය. තවත් ඉපැරණි ආත්මයක් හතර වැනි රාවණා, ඔහු රජකම පුතුනට දී ඉර්ෂි පැවිද්දෙන් වාසය කොට ජීවිත හානියෙන් පසු මෘත දේහය පාත්‍රාමුල්ල නම් ගමේ බමුණු ලෙනෙහි තිබී ඔහු පුතුන් දස දෙනා විසින් අරවගෙන රාවනා ඇල්ල සමීපයෙහි ගිරි ලෙනක නිධන් කලෝ යි. පාත්‍රා ධාතූන් වහන්සේ පිළිබඳ පුවතක් ඇත. හෙළි නො කරන්නේ ජනතාව ඉක්මන් වී කරදර වෙතැයි යන බිය නිසාය. මම ඉපැරණි කලක සිට ම බුදු දහම පිනිස ලැබූ හිමිකම් ඇත්තෙක් මි. ඉන්නට ඉඩ ලදොත් මතු කර දෙමි.

**දියසෙන් බලය**

මෙයට අවුරුදු තිහකට පමණ පෙර මුනිදාස අබේවික්‍රම මහතා පහත සඳහන් කවිය සුමන සූත්‍ර නම් පොතේ සඳහන් කර ඇත.

*කියව මගිය එනු කොහි සිට දද සමනල ගොසිනා*
*කිමෙක අමුතු එදිග බමුණ සුමන සුරිදු විසිනා*
*ගියකල දෙදහස් පන්සිය රජෙක් එතැයි දියනා*
*නියමිත ගම් වැසිය එනම් පැරකුම් රජ මෙදිනා*

මේ කවිය එදා තේරුවේ හයවැනි පැරකුම්බා රජ දියසේන කුමාරයෙක් ව එන වගයි. එහෙත් ඉටු නො වීය. දියසේන නමින් බල මහිමයක් තිබේ. බල වරම් සහිත වසවර්ති රාජ්‍ය බලයට ඇති පෙර නාමයකි. දැන් මෙදා කාලයෙහි පස්පව දස අකුසල් පාප කර්ම බහුලව තබේ. ඒ නිසාම රට ජාතියත් අඳුරට යයි. දියසේන බලය ඉක්මවන ලද බල මහිමයක් තිබේ. එය මා හඳුන්වන්නේ දියසෙන් බලය නමිනි. මාර පාක්ෂික ධර්මාතාවනට පටහැනිය. තුන් සරණ පඤ්චසීල, පොහොය අට සිල් දස සිල්, සතර සංවර සීල ආදී සීල ධර්ම උපදවන බබලවන බලමහිමය දියසෙන් බලමහිමය යි. එය පහදවා ගත යුතු, උපදවා ගත යුතු, ලබා ගත යුතු, සිද්ධ කරගත යුතු යම් කිසි අලාමක අනුපම බල මහිමය කි. එය ද උපදවා ගැනීමට කරුණු පහක් අවශ්‍යය.

1. පෙර පැතුම
2. පෙර උරුමය
3. බුද්ධ අධිශ්ඨාන බලය
4. මහේශාක්‍ය දිව්‍ය දේව සම්බන්ධය
5. වසවත් සුරිඳුන්ගේ අනුමැතිය

මේ කරුණු පහේ එකතුව දියසෙන් බල මහිමය යි.

ඉහත කලක සිට අභයරාජ මත්තට සාසනය බබලවන්නට කල පැතුම් ඇත්තෙකි. වලගම්බාහු මතු ආගම පිනිස සිය ධනය නිදහන් කර වෙනත් පින් දහම් කර මතු අනාගත සාසනය පිනිස පැතුම් පැතූ කෙනෙකු ය. ඉහත සිටි සිරි සඟබෝනම ඇති තාක් පින් දහම් කරමින් සාසන සෝධන ආදිය පිනිස පැතුම් පතා ඇත. මෙලෙස නොයෙක් ආත්ම වල පින් දහම් කරමින් කල පැතුම් ඇති බව පෙර පැතුමයි.

පෙර උරුමය නම් ආත්ම වාර විසි ගණනක් ම රටේ ප්‍ර දේශත්, මුළු රටමත් පාලනය කිරීමෙන් ලැබුනු උරුමය යි.

බුද්ධ අධිෂ්ඨානය නම් බුදු රජාණෝ පිරිනිවන් මඤ්චකයෙහි වැඩ හිඳ කල කුඩා පෙලේ අධිශ්ඨාන වලට ඇතුලත් අධිෂ්ඨානයකි.

මහේශාක්‍ය දේව සම්බන්ධය නම් ඉන්ද්‍ර, උපේන්ද්‍ර, සමිද්ධි සුමන, උපුල්වන්, මෛත්‍රිය නාථ තුසත වාසී දිව්‍ය ඇත්තන් ගේ සම්බන්ධයයි.

වසවත් අනුමැතිය නම් මේ පහන් පිළිවෙත කඩා කප්පල් නො කරන බවට මහේශාක්‍ය දිව්‍ය ඇත්තන් විසින් වසවත් සුරිඳුන්ගෙන් පොරොන්දු ගැන්මයි.

පෙර පැතුම, පෙර උරුමය, බුද්ධ අධිශ්ඨාය, මහේශාක්‍ය දේව සම්බන්ධය, වසවත් අනුමැතිය යන අංග පහේ එකතුව දියසෙන් බලය නමි. දියසෙන් බලය නැති කල හැකි, විනාශ කල හැකි, උරුමය නැති කල හැකි, බලවේගයක් නැත්තේය.

- පහන් පිළිවෙත අවුරුදු විසිපහ 21-23 පි.

දුර්ගුණ, අවගුණ, පව්කම්, අනවශ්‍ය සිතුවිලි ආදියෙන් තොරවැ නිසියාකාරවැ නිති පන්සිල් රැකීමෙන් දියසෙන් බලයේ උපරිම ප්‍රතිඵල කාහට වුවත් ලැබගැන්ම අසීරු නොවේ. ප්‍රයත්න දරමු.

# නා හිමි ගුණ වරුණ - 7

ඉසිඹු ලත් ඉදිසුරු පූජිත ජයවීර

**හොරපාවිට බුදු හාමුදුරුවෝ**

සිඟිති අවදියේදි අප දරුවන් උන්වහන්සේ හැඳින්වූ විධියයි ඒ.

මාතර අප නිවහනට අවතීර්ණ වූ උන්වහන්සේ ප්‍රධාන දොර අභියසට පැමිණි 'ඔන්න අපි ආවා' කියූ හඬ තිස් වසරකට පසුව වුවද අද ද මා හිතේ දොංකාරදෙයි. දෑස කඳුලින් පිරියයි මා කඳුළු පිසදා කෙසේ වුව ලියන්නට තතනමි.

සමහර අවස්ථාවල සමහර කියා දෙන ඇත්තෝ කරුණු කියාගෙන ගොස් ගොණුවෙකැ ලියාගත් පහන් වැලෙකින් තෝරාල එකක් ලියා දෙතිග උපුටා ගැනිම 'එවැනි පහන් 'පහන්' පිළිවෙතෙහි පහන් නොවේ. පහන් පිළිවෙතේ පහන් පොත්වල ලියා නැත ..... ගමේ පහන දී ඊට පසු දිය යුතු මේ පහන යයි එවැනි නියමයකුත් නැත. විශේෂයකුත් නැත. පහනින් කෙරෙන්නේ භූතයාව හික්මවීමයි. භූත ලෝකය අති විචිත්‍රය. එකම පිළිවෙළකට නැත. ගංගාවේ ජලය ගලා බස්නා සේය. එක අතටම යන ගඟේ වතුර වක්කලමේ දී ආපස්සටත් කැරකී යයි. එවැනි ගතිය අමනුෂ්‍ය ලෝකයෙහි ඇත. අමනුෂ්‍ය බලය වසවර්ති රාජ්‍ය බලයයි. වසවර්ති රාජ්‍ය බලය පස් පව් දස අකුසල් මාර මිසදිටු බව බබුළු වයි. බුදු දහම මාර මිසදිටුවකු හකුළුවයි. මෙ පහන් පිළිවෙත ඒ පිණිසයි. 'ස්විපසංහිත' නම් පැරණි පොතක් ඇතැයි අසා තිබේ. එම පොතෙහි මා ඇති කල පහන්වල නම් තිබෙත්ලු. එය මට හමු වූ කලෙක ඉදිරිපත් කරන්නෙමි.

නියම අදහස් පැවසීම ඇති අයට මා මෙහි හිඳ උපදවාගත් පහනේ නම් ඉබේටම වැටහේ. එසේ නොමැතිව පහන් වල නම් ලියා කියාගෙන උගන්වාගෙන නැත. කරුණු කියන විට නුහුරු නුපුරුදු පහනක නමක් වැටහුනාම හිතින් විමසා බැලිය යුතුය. සිතින් විමසූ විට පහන් පිළිවෙතේ එකක් ද නැද්ද වැටහේවී. අනෙක තුන් සරණ පංචශීල ප්‍රතිපත්තියෙහි පිහිටා සම්දිටු දෙවි පෙලට පිංදිමක් ඇතිව මේ දුක් හිංසා පීඩා ආදිය නැති වෙත්වායි සිතාලා උඩ, මැද, බිම යන තුන් විදියට පහන් තුන තබා මගේ පිළිරුවකුත් තැබුවිට යහපත ඇති වුනා. යහපත ඇති වෙනවා. මා කරමින් ආවේ භූත ලෝකය හා සටනකි. සටනේ ආයුධය පහන වේ. පහන් පිළිවෙතේ පහනට බෞද්ධ දිව්‍ය ඇත්තන්ගේ අවධානය යොමුව ඇත. මේ පහන් පිළිවෙතටම ඒකාන්ත සම්බන්ධ දිව්‍ය ඇත්තන්ගේ නම් තුසිත වාසී, ඉන්ද්‍ර, උපේන්ද්‍ර, සමිද්ධි සුමණ, සිරි උපුල්වන්, මතු බුදු වන මෛත්‍රෙය නාථ යන නම් ඇති මේ දිව්‍ය ඇත්තන්ගේ නිත්‍ය අවධානය සහිතය. එසේම විසිපන් වසක් තිස්සේ මා නිසා බෞද්ධ කමට ආපු දිව්‍ය ඇත්තන්ගේත් සම්බන්ධය සහිතයි. මා පහන් පිළිවෙත නිර්මානය කළ නිසා පහන් තුනක් උඩ, මැද, බිම දල්වා මගේ නම් ඒ පහනට කිමෙන් ඉතා උසස් ප්‍රතිඵල බොහෝ දෙනා ලබති. සිරිගුණාලංකාර මහ පහන පහන් පිළිවෙතේ ආරක්‍ෂක නායකකම ඇත්තාවූ මතු බුදු වන මෛත්‍රෙය නාථ බෝසත් සුරිඳුය. පහන් පිළිවෙතේ පහන දෙවියන්ට නොව මනුෂ්‍යාටය. පහනෙන් දුකට වැටුණු ජනතාව පහනින්ම අප ගලවමු.

**දේවානුභාව**

හරියටම දේව බැල්ම තියෙන තැනක් කිව්වොත් යමක් හරියටම කිරි ගැහට ඇන්නා වාගේ, සිකුරටම කෙරෙනවා. දෙවියෝ නිකන් පේන්න බිමට බැහැල ඉන්නවා වගේ යම් යම් තැන් අරමුණු කොටාගෙන මනුෂ්‍යයෝ මෙවැනි කියුම් යම් යම් කරුනු අරමුණු කොටගෙන මනුෂ්‍යයෝ මෙවැනි කියුම් කියති. මොනවද මේ ආනුභා බලය යමෙක් ඒ තැන් වලට ගොසින් වෙනත් කෙනෙකුට යම් කිසි විදියක විපතක් වෙන්නට හිතාගෙන යමක් කිවුවාම, කියෙව්වාම ඒ කියාපු, කියවපු අයහපත සිද්ධ විම නිසා මිනිසා මෙසේ කියයි. අසවල් ගෙදර සිටින අසවල් නම් ඇති එකා හොරා. මතු බුදුවන ඔබ වහන්සේ මේකා ගහෙන් කොළෙන් බිමට දමන්න. ඕකා ගමෙන් එළවල හරින්න. මේකා මාස තුනෙන් හතරෙන් ඉවර කර දමන්න. මෙන්න මේ විදිහේ කියුම් දෙවියන්ගේ රූපය යයි කියන දේවාල ඉදිරියේ ඉඳගෙන කියති. කියවති. මෙහෙම වැඩ කරන්නෝ දෙවියෝද?

මතු බුදුවන බෝසත්වරුන්ගේ හැටිද? මෙවැනි දේ කියන කියවන තැන් විහාරස්ථාන වලට ගැළපෙත්ද? කුල දෙවි සම්මත ඇත්තන් හට මෙවැනි දේ මෙවැනි කියුම් නිසි දැයි නොවැටහෙන්නේ කුමන විදිහේ මුලාවක් නිසාද? අනුනට විපත් හිතීම, පැතීම අකුසල දහයෙන් එකක් වන ව්‍යාපාදමය අකුසලයයි. බුදු සස්න ගුණය දහම රකින තැන් නේද ඇයි? මේ මුලාව යමක් යම් වැඩක් යම් වචනයක් නිසා හිංසා සහිත ද? එවැනි වැඩ එවැනි වචන කරන කියවන තැන් යක්‍ෂ ගොරිල්ලන්ගේ අරක් ගැනුම් ඇති තැන් නේද? මෙවැනි තැන් වල දිව්‍ය දේව බලය නැත්තේය. ඇත්තේ කර්කශ සට කපට, කෛරාටික, මායාකාර ඇත්ත නැතිකර, නැත්ත ඇති කරල මවා පෙන්වා ගෙන සිටින භූත ගොල්ලෝ නෙවෙත් දරැ දිව්‍ය දේව ඇත්තෝ අහක බලිත. මෙකල ලක්දිව ප්‍රධාන දොවොල් අටෝරාශියක් වන්නේය.

එම දෙවොල් අධිපති අමනුෂ්‍යයෝ ද දැමුණු සිතින් යුතුව එක්වන්නෝයි. මේ කාලය ගැන කියවෙන 'යමදේව සංහිතා' වෙන් වැටහෙන්නේ ලංකාවේ හි ප්‍රධාන පෙළේ දේවාල 108ක් මේ කාලයට පවතින බවත් එම දෙවොල් වලට අධිපතියෝ අමනුෂ්‍යයෝ බවත්ය. ඔවුහු ද මේ පහන් පිළිවෙත නිසා දැහැමි කමට එන බවත්ය. දැහැමි වූ කළ මිනිමරු වැඩ නොකරති. නොකරවති. එවැනි දෑ කරන්නට, කරවන්නට නියම කළ විටම අමනාප වන්නෝය. එහෙයින් දෙවියන් ඇදහීම පිණිස ඇති හැම තැනක්ම ඒකාන්ත පරිහාණියට පැමිණෙනු ඇත.



මතු සම්බන්ධයි......

# නා හිමි ගුණ වරුණ - 9



ඉසඹු ලත් ඉදිසුරු - පූජිත ජයවීර

නා හිමි ගුණ 8 සදහන් ඉතිරිවු කොටස බිනර මස නිවන කලාපයෙන් කියවන්නට ඇතැයි සිතමි. එහි පලවු ආලෝකය දුටුවාද? සිද්ධිය මාතර සෙනෙවිරත්න රෝහලේදි කළු මහත්තයා ඇතුළු සියලු දෙනා ඉදිරියේ සිදු වුවක් වුවද ආලෝකය දුටුවේ උන් වහන්සේ ගේ දෙපා දෙකෙහි අත තබා සේලයින් බට නොගැලවී තබා ගැන්මට යොදුනු අප දෙදෙනෙක් පමණි.

අද මා සදහන් කරන්නේ අපවත් වී වදාළ අතිගරු මහානායක මඩිහේ පඤ්ඤාසීහ හිමියන් වරක් අසනිපව සිටි බව දැනැගත්විට අප නාහිමියන් මාතරට වැඩම කොට උන්වහන්සේ කළ පිළිවෙත් කොටසක් සහ එයින් ලැබු ප්‍රතිඵල සම්බන්ධවයි.

මහ නාහිමියන් දැඩි ලෙස හිසේ රෝගී පිඩා තත්වයකින් පෙළුණු බව අප දැන ගෙන සිටියෙමු. මහනාහිමියන් මාතර ධර්මායතනයට වැඩි අවස්ථාවේ වන්දනා කරන්නට මම ගියෙමි. ලබන සතියේ "ඇමරිකාවට වඩිනවා සැත්කමකට" කියා ඒ හිමියන් වෙතින් පලවු විට එවේලේම සිරිගුණාලංකාර හිමියන්ට දන්වා යමක් සෙත් ක්‍රමයක් සලසන්නට මගේ සිත පෙළඹුයෙන් මහා නාහිමියන් ගේ වාහනයෙන්ම හොරපාවිට පැමිණ අප සිරිගුණාලංකාර හිමිපාණන් වඩමවා ගෙන මාතරට පැමිණියෙමි.

අප හොරපාවිට නා හිමියෝ උන්වහන්සේ බැහැදැක ඇතුල් කාමරයේදි සෙත් පිරිත් කියා යම් පිලිවෙතක් හා අධිෂ්ඨාන පූජාවක් කොට පිටතට පැමිණියෝය. මහ නාහිමියන් ද ඒ සමග පසු ගමන් කොට පන්සල ඉදිරියට අප නාහිමියන් සමග පැමිණියහ.

ආපසු වඩින්නට පලමු පඩියට පියවරක් තබා "ඔබවහන්සේ ඇමරිකාවේ වැඩලා එන්න. ඔපරේෂන් නැහැ" කියා වාහනයට නැගි ආපසු මා සමග වඩින්නට පිටත් වුහ.

ඒ අන්දමට මහා නාහිමියන් ඇමරිකාවේදී සැත්කම් මේසයටද නංවා සියලු වෛද්‍ය කණ්ඩායම හා උපකරන ආදියත් ක්‍රියාත්මක කරන්නට වන්හ. එම අවස්ථාවේම සැත්කම් භාරව සිටි (විශේෂඥ) වෙසෙසි වෛද්‍යතුමා සටහන් සියල්ල මනා කොට පරිකෂා කොටැ "අවශ්‍ය නැහැ සුදුසු නැහැ" පවසා සැත්කම අත්හිටුවු බව අපට පසුව දැනැගැන්මට ලැබිණ. එදින සැත්කම අතරතුර මහා නාහිමියන් අපවත් වන්නට ඉඩ තිබු බව අපටද සිතා ගන්නට පුළුවන් විය.

අප වාගේ පුද්ගලන් කොතෙක් උත්සාහ කළද අතිගරු කපුදුව සිරිගුණාලංකාර නාහිමයන් ගුණ ලියා කියා නිම කළ නොහැකිය.



උන්වහන්සේ ප්‍රාර්ථනා කළ යම් බෝධියකින් උන්වහන්සේට බුදු බව ලැබේවායි අපගේ ඉෂ්ඨාර්ථ ප්‍රාර්ථනාවයි.

# බොදු පුවත්

## පුණ්‍යානුමෝදනාත්මක ස්තූතිය පුද කිරීමයි

සිරි ගුණාලංකාර බොදු පිළිවෙත' සුරැකීමේ සංවිධානයේ 57 වැනි සාංවත්සරික මහ පිංකම සැප්තැම්බර් 17-18 දෙදින තුළ අත්‍යලංකාරයෙන් පැවැත්විණි. මෙම පුණ්‍යකර්ම සිදු කිරීමේදී ඓතිහාසික රුවන්වැලි මහා චෛත්‍යරාජයාණන් වහන්සේ අභියස සිදු කිරීමට අනුශාසකත්වය ලබා දුන් නුවර කලාවියේ ප්‍රධාන සංඝ නායක, රුවන්වැලි චෛත්‍යාරාමාධිකාරී පල්ලේගම හේමරතන නායක ස්වාමීන්ද්‍රයන් වහන්සේ ප්‍රධාන විහාරවාසී මහා සංඝරත්නයට විශේෂ පුණ්‍යානුමෝදනාව හිමි කර දෙමු. පිංකමේ සෙසු කටයුතු සිදු කර ගැනීමට අනුරාධපුර සංඝමිත්තා මාවතෙහි මෙත් බෝසත් මැදුර අධිපති පාණදුර තොටමුණේ ප්‍රධාන සංඝ නායක ශාස්ත්‍රවේදී පරගස්තොට සුධම්ම නායක ස්වාමීන්ද්‍රයන් වහන්සේගෙන් ලද සහය ද අගය කොට සළකමු. එමෙන්ම වැඩම කළ මහා සංඝ රත්නයට, කාර්ය මණ්ඩලවලට, පැමිණි දායක පින්වතුන්ට ත් පුණ්‍යානුමෝදනා කරමු. බුද්ධ පූජාව සහ ධර්ම දේශනාව පැවැත්වූ ස්වාමින් වහන්සේලාටත්, ගිලන්පස හා කප්රුක් පූජා කටයුතු සිදු කළ සියළු පින්වතුන්ටත්, පරිෂ්කාර පූජා කළ සැමටත්, හීල් දානයෙහි දායකත්වය දැරූ පින්වතුන් සැමටත්, කොළකැඳ හා ගිලන්පස පූජාව සිදු කළ වල්ග මිමුල්ලේ සුනිල් මහතාටත්, නන් අයුරින් සහය වූ සැමටත් පුණ්‍යානුමෝදනාත්මක ස්තූතිය ප්‍රකාශ කොට සිටිමු.

මෙයට,

**සභාපති ඩී. ඩී. අබේසේකර මහතා**
ඇතුළු සිරි ගුණාලංකාර බොදු පිළිවෙත' සුරැකීමේ සංවිධානය





නවම් - 2017

# නා හිමි ගුණ වරුණ - 11



ඉසිඹුලත් ඉදිසුරු පූජිත ජයවීර



අද මා මේ ලිපිය සැකසීමට පුටුවේ හිඳගන්නා විට වටින් ගොඩින් සාමයේ ගීතිකා ඇසේ. සාම දූතයා ඉපදුණු අද දවසැ ලොව මිනිසා ඇතුළු' සියලු ජීව ලෝකයට සාමය එළැඹෙනවා දැයි සිතෙන කොටැ කොතෙක් අඩුපාඩු ඇත්දැයි සිතා බලමු.

වරක් අපවත් වූ අතිගරු මහානායක නාහිමියෝ ධර්ම සාකච්ඡාවේ පැවසූ වදනක් මෙහි පළකිරීමට කැමැත්තෙමි. උන්වහන්සේ විමසුවේ ලොවැ තුළ අතිශයෙන්ම ප්‍රාණඝාතය සිදුවන්නේ කවර දා දැයි අප ගොළු'වන්ව සිටින විට උන්වහන්සේම පිළිතුරු දුන්නේ නත්තල දිනයේදී යැයි කියායැ.

අද මා හිත මිතුරු නෑදෑ නොනෑදෑ දන්නා අනොදන්නා සියලු අන්‍යාගමික බැතිමතුන්ට කරුණා පෙරදැරිව සිතා බලන්නට යැයි කියන්නට කැමැත්තෙමි.

"පුන ගැසිය" එපමණයි.

අප සිරිගුණාලංකාර නාහිමියන්ගේ සුවදුක් සොයා බැලීමට විවේකයක් ලද විට හොරපාවිට පන්සලට යෑම අපගේ පුරුද්දක් විය. වරෙකැ මා බිරින්දෑ ද සමඟ එහි ගිය විට නාහිමියෝ අප අමතා පැවසූයේ උන්වහන්සේගේ රෝගී තත්ත්වයක් හා උද්ගතවී ඇති අසහනකාරී බවක් ගැනයි. "සෞඛ්‍ය තත්ත්වයෙන් දුර්වලවැ සිටින මට අතවැසි පුද්ගලයකු තබාගැනීමට වත් මට අවසරයෙක් නෑ". මෙම වදන් අප දෙදෙනාගේ හදවතට ද මහඟු සෝවක් ජනිත කෙරිණ. ආපසු මාතර එන්නට පිටත් වූ අපට මතක් වුණා පන්සලේ දෙවැනි ස්වාමීන්වහන්සේ බටකැත්තර පිරිවෙනේ උගැන්වීමේ යෙදෙන බව කඹුරුපිටියේ පිහිටි එම පිරිවෙන අප දෙදෙනා ගොස් එම හිමියන්ට මේ බව පවසා මේ විදියේ තත්වයකින් නාහිමියන් මුදා ගන්නා ලෙස ඉල්ලා සිටියෙමි.

එවිට ඒ හිමියන් පැවසූ වදන් කොස්ස මෙහි සඳහන් කරමි. නිරෝගීවැ අසහනකාරීබව වර්ධනය වී අපවත් වුවහොත් මැරුණොත් පුච්චන එක තිබෙන්නේ කියායැ අප හදවතට යහුල් පහරක් වූ ඒ වදන් මාතර ගබඩාවීදියේ විහාරයක් එවිට වැඩ හුන් ගරු බටුවිට නන්දරාම අනු නාහිමියන් ට පවසා විසඳුමක් ලබා දෙන ලෙස ඉල්ලා සිටි අප විශේෂඥ වෛද්‍ය පර්ඩියන්ස් මයාට නාහිමියන් යොමු කිරීමට දිනයක් ලබා ගත්තෙමි. අවසර ලත් දවසේ කළුමහතාද සමඟ නාහිමියන් මාතර මොහොට්ටි රෝහලට වැඩියහ.

මා සමග පිරික්සුම් කාමරයට උන්වහන්සේ ඇතුල් කරන අවස්ථාවේ දොස්තර මයාගේ උපකාරක හෙදිය නාහිමියන් සැතපී සිටි ඇඳ ළගට විත් සකසන්නට ඇරඹී විට "හා මේ ගොල්ලො මොකද මෙහේ" කියූයෙන් ඇය අයින්වී සිටියහ. ඇගේ සියලු කටයුතු මා අතින් කරන්නට සිදුවිය. උන්වහන්සේගේ සිල්වන්ත බවේ මෙය සංකේතයකි.

දොස්තර පර්ඩිනැන්ඩ් මයා උන්වහන්සේ පරීක්ෂා කොට ඖෂධ වට්ටෝරුව ලබාදී හාමුදුරුවන් දුර්වලයි Sustagen කෝප්පයක් දිනකට තුන්වරක් බීමට නිර්දේශ කළේය. ඖෂධ සියල්ලත් මිලදී ගෙන Sustagen මංජුසාවක් ද මිලදී ගෙන, අප සමිතියේ සභාපතිවැ සිටි අභාවප්‍රාප්ත දිසානායක අධිනීතිඥ බලන්නට ගියෙමු. මා දන්නවා මේ Sustagen කෝප්පයක් නින්දට යන විට ගන්නට කියා කී බව ඔහුට පැවසුවෙමි. නාහිමියන්ට කොතෙක් කීවද එය නොකෙරෙන බව කී හෙයින් මේ බව එතුමාට පැවසීමි. එතුමා එම ආහාරයේ සංයුතිය විස්තර කිරීමෙන් පසුවැ යම්තම් නාහිමියන් කැමැත්ත පළකළහ. උන්වහන්සේ සිල්වත් බවේ එදින දුටු දෙවැනි සංකේතයයි.



# නාහිමි ගුණ වරුණා - 12

ඉසිඹුලත් ඉදිසුරු පූජිත ජයවීර

මේ ලිපිය ලියන්නට ප්‍රස්තුතය ගැන සිතමින් හිඳින විට දෙසවනට නතු වූයේ නිදහස ගැන අතිගරු ජනපති උතුමන්ගේ දේශනයයි.

එතුමාණෝ අප නිදහස් ජාතියක් එය රැක ගැනිමට අප කළ යුතු කරුණු රැසක් කීවෝය. අපට නිදහස ඇතිලු. මා නම් එසේ පිළිගැනීමට පසුබට වන්නේ අප නිදහස්ද කියා සලකනු විටය.

අප නිදහස් වන්නේ සත්තිස් බෝධි පාක්ෂික ධර්ම අවබෝධ කොටැ භාවිතා කොට පුරණ වීටයි. එතෙක් අප කිසිවෙක් නිදහස් නැතිය.

අප හැමදෙනාම දෙස මාරයා ඇස් යොමා සිටී. අප යම්මැ පින්කමක් කරන්නට සිතන වේලේ සිට ඔහු එය වළක්වන්නට වලිකයි. කඨින පූජෝත්සවය මා දරුවන් ගෙදරින් මෝටර් රථය එළියට ගන්නා විට සැමදා ඉඩදී අයිනට වී ඉන්නා ගෙදර සුනඛයා කොහේදෝ සිට දිවැවිත් මෝටර් රථයේ වැදී අසනීප විය. එවෙලේ ඔහු කූඩුවට දමා ඔවුන් පිටත්ව ගොස් ආපසු පැමිණියේ ඊට පසු දින දිවා දාන පින්කමද අවසන් කොටැය. ආහාර අනුභවයක් නොකොට ඌ අබලන්ව සිටියේය. පිටුපස පාදය අවතැන් වී කොතෙක් සැත්කම් කළත් ඌ ඇවිදීමට දැඩි අපහසුතාවයක් පෙන්වමින් හිඳී. මාරයාට අපට වින්නැහියක් කිරීම අපහසු වූ බැවින් අසරණ සුනඛයාට ඒදේ කොට මාරයා බලතර පවක් කර ගත්තේය. මෙයැයි කවරෙක් වුව කෙරෙන පින්කම් වලට කැරෙන බාධකය.

මීළගට ලිවීමට අදහස් කරන්නේ වාර්තාකරණයක්ම පමණි. එයින් යම් පෘථග්ජන පුගුලෙකට හෝ අමනුෂ්‍යයෙකුට හෝ සිත් තැවුලක් වන්නේ නම් මට කමා කරත්වායි

මුලින්මැ පවසන්නට කැමැතිය. කිහිප දෙනෙකුගේ ඉල්ලීම පිට එය ඉටු කරන්නට තතනම්.

නාහිමියන් අපවත් වීයේ මාතර පුද්ගලික රෝහලකය. එහි සිටි සියලු අවැසි අවසර ලබා අසබඩ පිහිටි රුහුණු මල් ශාලාව වෙත දේහය රැගෙන ගියෙමි. එහි පැමිණි සිටි දෙවැනි හිමියන් දික්වැල්ලේ විජේරාම මහත්මිය විසින් මිලැදී ගන්නට පිළියෙළ කොටැ තිබූ වෙසෙසි ඉස්තරම් මිණී පෙට්ටිය "ඕවා ඕනැ නැහැ සාමාන්‍ය අඹ ලෑලි වැනි පෙට්ටියක් සකසා කහ රෙදි වලින් වසා නිම කොටැ එහි බහාලන්නැයි" උපදෙස් දිණි. එවිට මා ඉදිරිය කෙසේ වන්නට යන්නේදැයි වටහා ගතිමි.

කෙසේ වුව සියලු සැකසීම් අවසන් කොටැ සවස පැය 19.00 පමණ වන විට මා බිරින්දෑ ද සමග දේහය හොරපාවිට පන්සලට රැගෙන ගියෙමි. දේහය සහිත පෙට්ටිය තබන ලද්දේ කුඩා කාමරයක් වූ රෝගි නිවාසයේය. දේහය වටා පැදකුණු කරන්නට වත් ඉඩ පහසුකම් එහි නොතිබුණි.

එවිට දායක සභාවද සමන්විත සියලු සැදැහැතියන් එක් රොක් වී සීමා මාලකයේ අවමගුල් සභාවක් පිළියෙළ වීය. එහි ඇතුළත් වන්නට අපටද ඇරයුම් ලැබිණ. කුඩා මිටි පුටුවක මා අසුන් ගෙන සිදුවූ සියළු සාකච්ඡා වලට සවන් දුන්නෙමි. ගමේ දායකයන් විසින් යෝජනා කරන ලද වැදගත් යෝජනාවන් කිහිපයක් මැ නිශ්ප්‍රභා කොට නොයෙක් අයුරු නුසුදුසු කපාහැරීම කිහිපයක් කෙරෙමින් මට වැටහුණෝ නාහිමි ගුණ වරුණා 11හි සඳහන් කොටැ තිබූ පරිදි සිදුවන්නට යන බවෙක සේයාවක්ය.

එයට සහභාගී වී නාහිමියන්ගේ දේහයට සුදුසු අන්දමේ සැළකිලි සියල්ලනට මොහු අකුල්හෙළනු දකිනු බලාහිඳින්නට බැරිවැ බිරින්දෑටද කතා කොට නැගිටින ගමන් ලෝකයක් වටින හාමුරුවන්ට සලකන්නට දන්නේ නැත්නම් මා මෙහි හිඳීම අවැඩක් බව සැමට ඇසෙන්නට සලසා කාමරයෙන් පිටට පැමිණ ආපසු පැමිණියෙමි. ඉන්පසු වූ සියල්ල පසු දිනක කළු මහත්තයාගෙන් විමසා දැන ගත්හ.



කදුළු හෙළමින් වාහනය පදවාගෙන ආපසු පැමිණියෙමි. උන්වහන්සේගේ රුව මා සසර වන තුරු හැමවිටකදීමැ මට දර්ශනය වේවා.



# නා හිමි ගුණ වරුණ 13

ඉසිඹුලත් ඉදිසුරු පූජිත ජයවීර

නවම් මස 18 දින දී පමණ හොරපාවිට පින් බිමට කලු මහත්තයා හමුවී අදහස් විමසීමට ගිය විට උවැසියක් සිය ස්වාමි පුරුෂයා සමඟ පැමිණ නාහිමි ගුණ වරුණ හා එහි කෙටියෙන් සඳහන් වූ කරුණු සබැඳිව යම් විස්තර විමසා සිටියාය.

ඒ අමතර විස්තර පැවැසීම නිසා සමහර අයට සිත් තැවුල් ඇති කිරීම මාගේ අභිප්‍රාය නොවන බව හැඟවූයෙමි. කෙසේ වුව නාහිමි ගුණ වරුණ 12 සබැඳි විස්තර ඇවැසි අයෙක් ඇතහොත් කලු මහත්මයා විමසා දැන ගනිත්වා.

මේ සිද්ධි දාමය මගේ ලියවිලි සකස් කිරීම මා දිරිගැන්වීමක් වූ බැවි සතුටින් සඳහන් කරමි. අද මා අදහස් කරනුයේ කරුණු දෙකක් පමණක් සඳහන් කිරීමටයි.

දිනක් මා බිරින්දෑ ද සමඟ නාහිමියන් හමුවන්නට ගොස් කරුණු විමසීමට ගියෙමු. එදින මට වැඩි වේලාවක් ගත කරන්නට වූයේ එහි කාන්තාවන් අතර ඇතිවූ කල බැගෑනියකි. එක් කාන්තාවක් එතැන නුවුවමනා අන්දමේ දෘඪතර වදන් යොදමින් තවත් කාන්තාවකට අවසිහියෙන් මෙන් වාදයක් ඇති කැරගෙන තිබිණ. පහන් දෙන පින්වත්හු කොතෙකුත් විධාන කළමුත් එය සමථයකට පත්වන සෙයක් නොපෙනිනි ස්ත්‍රී පක්ෂයේ අතර ඇතිවන නුසුදුසු අන්දමේ ක්‍රියාවන් දකින්නට අතැමැති බැවින් මම බිරින්දෑ පමණක් එහි නවත්වා එතැනින් ඉවත් වීමි.

ටික වේලාවකට පසු නාහිමියන් පැමිණ එය නවතා ගන්නට පැවසූ මුත් ඒ තැනැත්තිය අවනත බවක් නොපෙණින. බස්තමක් වැනි දෙයක් රැගෙන තව හිමිනමක් හා දායකයන් දෙදෙනෙකු පැමිණ මෙතැන නොරැඳී වහාම පිටවන්නට අණ කළ විටත් නොගිය හෙයින් අනෙකුත් දායිකාවකගේ ද උදව්වෙන් ඇය කැඳවාගෙන ගොස් පන්සල් භූමියේ ප්‍රධාන ගේට්ටුව ළඟින් බස් වෙයට පළවා හැරියේ වලගම් අබා රජ දවස ගිරි නිගණ්ඨයා පළවා හැරි සෙයක් විලසටය.

නාහිමියන් 'දැඩි' කමක් පෙන්වූ එකම අවස්ථාව මෙයයි.

දෙවැන්න
උන්වහන්සේ කරුණා බරවූ අවස්ථාවක් ගැනය. යම් කාර්යාලයක සේවය කොට ඉසිඹු ලබා සැනැසුම සොයා පන්සලට පැමිණ ටික දිනක් ගත කළ කෙනෙක් ඔහුගේ දුක් ගැනවිල්ලක් නාහිමියන්ට පවසා ටික කාලෙකට පන්සලේ නවතින්නට ඔහුට ඉඩ ලැබී තිබිණ. දැඩි භක්තිමතෙකු වූ ඔහු දිනපතා දිවා බුද්ධ පූජාව පූජා කිරීමේ පුරුද්දක් ඇති ඔහුට එසේ කරගැනීමේ අවස්ථාව විරල වූ හෙයින් නාහිමියන්ගෙන් ඒ සඳහා විසඳුමක් විමසන ලදී. මේ නාහිමියන් ඒ විසඳූ අයුරුයි. 'ඔබ කළ යුත්තේ මෙයයි' ඔබේ අතට ලැබෙන දිවා ආහාර පිඟාන ඉඳුල් නොකොට ඉන් කොටසක් සුදුසු බඳුනක තැන්පත් කොට එය බුද්ධ පූජාව සඳහා පූජා කොට ඊට පසු තමා කෑමට ගැනීමයි, කියායැ.

මේ පුවත අපටද යම්මැ උදාහරණයක් පෙන්වන සෙයක් නොවේද? යම් අවස්ථාවෙක ඔබ නේවාසිකාගාරයක නේවාසිකව (Boarding House) සිටින විටෙක දී අපටද මෙසේ කළ හැකි නොවන්නේ දැයි සිතා බලන්න.

බක් මස නව අවුරුදු සමයේ ඔබට තෑගි ලෙස ලැබෙන කැවුම් කොකිස් පසුම්බියෙන් (පාර්සලයෙන්) කොටසක් බුදුන්ට පූජා කොට කෑමට ගැනීම අපටද පුළුවන් නොවේද?



ලබන මස උන්වහන්සේ කරුණාව දැක්වූ අවස්ථා කිහිපයක් හා පෙන්වා දුන් අදහස්ය.





# නා හිමි ගුණ වරුණ 15

ඉසඹු ලත් ඉදිසුරු - පූජිත ජයවීර

45/150

පුරා වසරකට වඩා කාලයක් නිවන සඟරාව මගින් ඔබ අමතන්නේ 15 වන වතාවටයි. මේ ලිපිය කියවන්නකුට නවක පාඨකයන් ඇතළුව හැමට නාහිමියන් ගැන පූර්ණ හදුනා ගැන්මක් සැපැයෙන අදහසින් ලිපිය යුතු බැවින් පෙර සගරාවන් හි සඳහන් වූ කරුණු පවා මෙහි අන්තර්ගත විය හැකිය.

මම කතුවරයෙක් වත් සාහිත්‍යකරුවෙක් වත් නොවෙමි. අප ගරු ලේල්වල සමිත හිමියන්ගේ ඉල්ලීම අනුව නාහිමි ගුණ වරුණ සපයන්නට පිළිපන් මා ලිව්සැරිය හැදෑරූයේ 62 වසරකට පමණ පෙර අපගේ සිංහල විෂය ඇදුරාණන් වූ හිතවත් ඇස්. කේ. කේ. සූරියආරච්චි හා අබේකෝන් ඇදුරාණන් ආදීන්ගෙනි. ලිවීම ඔපවත් කළේ අභාවප්‍රාප්ත අරිසෙන් අහුබුදු ශූරීන් හා හෙළ හවුල් සමුච්චය වෙතිනි. පූරසාරම එපමණයි. වනි දුහුනකු වූ මගෙන් යම්මැ අඩුපාඩුවක් හෝ වරදක් හෝ සිදු වෙත් නම් කමාව අයැද සිටිමි.

ලිපියේ හදුනව්ව ලෙස සඳහන් 45/150 - 15/50

**නාහිමියන් විසින් හැමටම දෙසන වදනක් සිරිගුණාලංකාර බොදු පිළිවෙත පොතේ 115 පිටුවෙන්**

උපුටා ගැන්ම ඃ-

මනුෂ්‍ය වූ හැම කෙනෙක්ම තුරුනුවන් අදහන්නෝ වෙත් නම් සිංහල කම, සිංහල ජාතිය රට පුරාමත් ලොව පුරාමත් පැතිරෙයි. ලෙඩ දුක් හිගය. පීඩා නැතිව මේ රටේ විසීමට නම් තුනු රුවන් ඇදහීම ඇති පංචශීල ප්‍රතිපත්ති ඇති කරගත යුතුය. දැන් ද්‍රවිඩ ජාතිකයෝ ලක් බිමෙන් කොටසක් ඉල්ලති. අපි ඔවුනට මෙහෙම කියමු. මුළු රට මටත් ඔබටත් විය හැකියි. තුනුරුවන් අදහන්න. ඒ පිණිස බෞද්ධයන් වෙමු. ප්‍රතිපත්තියෙන් බෞද්ධ නොවෙත් නම් දැන් ඇති ආත්මයෙන් ඉවත් වීමට වේ. එය මා කරන්නක් හෝ කරවන්නක් නොව ස්වභාවයෙන්ම සිද්ධවීමකි. තුන් සරණ පංචශීල ප්‍රතිපත්තිය නොගනිත් නම් රටෙන් අඩක් තබා සිය පණ කෙන්දත් නැතිව යාවි. එය සිද්ධ නොවන්නෙකැයි නොසිතන්නී මතු කලක ඉතිරි වන්නේ එකසිය පනහක ජනගහනයෙන් හතලිස් පහයි පණහෙන් පහළොවයි. වෙනත් ආගම් අදහන්නන්ට ඇත්තේ හිතේ පෙරළියකි. ඒ හිතේ පෙරළිය අපේ වචන වලින් වෙනස් වෙයි එවිට සිය කැමැත්තෙන්ම බෞද්ධ වෙයි රට ජාතිය පිණිසයි ජාතිය ආගම පිණිසය. ආගම ප්‍රතිපත්තිය පිණිසය. ප්‍රතිපත්තිය රට පිණිසය. ප්‍රතිපත්තිය වේ නම් මේ ලොවම වටීවි.

**උප්පත්ති විසිතුර**

**කපුදුව සිරිගුණාලංකාර ස්වාමීන් වහන්සේ ගේ චරිතපදාන පොතේ උපුටාගැන්ම**

උන් වහන්සේගේ ජන්ම භූමිය මාතර නගරයට සැතපුම් 6ක් පමණ උතුරින් සරුසාර කෙතින් වට වූ කපුදුව නම් ග්‍රාමයෙහි පැළකැටිය වත්ත නම් ගෙදරයි.

මා පිය දෙපල කංකානම් පතිරගේ එලියස් මහතා හා බෝධි මානගේ හින්නිහාමි මහත්මියයි. මේ ගුණවත් දෙමව්පියන්ගේ පිංවත් පුත්‍රයා ලෙස අප කථානායකයාණෝ 1913 ජුනි මස 28 දින රාත්‍රී 4 විනාඩි 25 ට මෙලොව එළිය දුටුවෝය.

**උන්වහන්සේගේ ග්‍රහ වාරය**




කුඩා කල දීම සිය මෑණියන් නැතිවීම නිසා හදාවඩා ගත්තේ සිය මවගේ මෑණියන් වූ අත්තම්මායි වයස 12 ගත වෙද්දී 1925 මාර්තු 12 දින හොරපාවිට ශ්‍රී විජය සුන්දරාරාමයේ දී ගැටමාන්නේ පඤ්ඤජෝති ස්වාමීන් වහන්සේගේ ශිෂ්‍යයෙකු ලෙස පැවිදි බමට අප කථානායකයෝ පත්වූහ. පැවිදි පරපුර වූයේ ශ්‍රී ලංකා රාමඤ්ඤ නිකාය පිහිටුවීමේදී පුරෝගාමී වූ ආරණ්‍යවාසී පුවක් දණ්ඩාවේ පඤ්ඤානන්ද ස්වාමීන්ගේ පරපුරයි.

උන්වහන්සේගේ ශිෂ්‍ය සතරවන මහානායක සද්ධම්මචාරිය. මාතර ඤාණෝභාය ස්වාමීන් වහන්සේ උන්වහන්සේගේ ශිෂ්‍යයාය. ගැටමාන්නේ සීලානන්ද ස්වාමීන්වහන්සේ උන්වහන්සේ උන්වහන්සේගේ ශිෂ්‍යාය. ගැටමාන්නේ පඤ්ඤජෝති ස්වාමීන් වහන්සේ උන්වහන්සේගේ ශිෂ්‍යාය. ගැටමාන්නේ පඤ්ඤජෝති ස්වාමීන් වහන්සේ අප නාහිමියන් ඉගෙනීම සඳහා දකුණු පළාතේ රාමඤ්ඤ නිකායේ එකට පිරිවෙන වූ මාතර වල්පොල සිරිමංගල පිරිවෙනටය.

**ඊළගට අප නාහිමියන්ගේ වදනින්ම ලියපුරා විසිතුරු ලිපියි සිරිගුණාලංකාර බොදු පිළිවෙත පොතේ 116 පිටුව**

**උපුටා ගැන්ම** ඃ-



පොඩි අවධියේ ලැබුණු එකම භාග්‍ය මගේ ආචාර්ය ස්වාමීන් වහන්සේගේ ආශ්‍රයයි. බණ දහම් ඉගෙන ගත්තා මාතර වල්පොල පිරිවෙනෙ එවකට ප්‍රධානාචාර්යව වැඩවිසූ, හැමතින්ම හොඳ උගත්කමින්, ගුණ දහමින් හෙබි රාජකීය පණ්ඩිත මාතර ශ්‍රී ධර්මවංශ මාහිමිපාණන්ගේ ඇසුර

දෙවැනි කොටස

# නාහිමියන්ගේ ඤදුණ සාක්ෂරතාවය

පූජිත ජයවීර

අනුමත නිවාඩු ගෙවී ගිය බැවින් සිගිත්තා ද කැටුව ගල්ගමුවේ හිල නිවාසයට ගියෙමු.

ටික දිනකට පසු සිගිත්තාට උදරාබාධයක් වැලදිණ. අනුරාධපුර, කුරුණෑගල හා අගනුවර ද ගොස් විශේෂඥයන්ගේ උපදෙස් අනුව ප්‍රතිකාර කළෙමු. ප්‍රතිකාරය කරන විට ආබාධය අඩුවේ. නැවැත් වූ විට පෙර තත්ත්වයම පැන නැගේ.

කුමක් කරම්දෝ යි සිතමින් සිටින විට මාතර නැන්දනියගෙන් ලිපියක් සමඟ පහන් කොළයක් ලැබිණ. නැන්දනිය නාහිමියන් හමුවට ගිය විටෙක "අන්න ගල්ගමුවේ ළමයාට බඩේ අමාරුවක්. ඒකට අරළු, බුළු, නෙල්ලි තම්බා තෙවරක් බුදුරජාණන් වහන්සේට පූජා කරන්න" කියා තිබිණ. ඒ හමු වූ විගස ම ඒ ඔසුව පිළියෙල කොට බුද්ධ පූජාව කළෙමු.

තුන් දිනක් පූජාව කළා පමණි. පුදුමයෙකි, උදරාබාධය සුව විය. ළදරුවාගේ මළ සමඟ ගුලියක් පිට විය. එහි තිබුයේ කරදසි කැබැලි ය.

මේ නාහිමියන් සතු විශ්මිත ශක්තියකි. මාස කිහිපයක් ගත වූ පසු සුසුමු ලබා ආපසු ගියෙන් හොරපාවිට පන්සලට ගියෙමු. ළදරුවා දකින විට නාහිමියන් කීවේ (Other Mother) "අදර් මදර්" කියා අදහසක් කියා අදහස කුමක් දැයි අපෙන් විමසීය. "අනිත් අම්මා" කෙනෙකු ගැන කියවෙන බවක් කියනවා. දරුවන් පතා අප දේවාලයකට ගොස් භාර වී; ඒ සම්බන්ධ භූත ප්‍රාණය දරුවා ඉල්ලා සිටිනා හෙයින් පන්සලේ ඇති ගිහි විශ්‍රාම ශාලාවේ කාමරයක් දී දෙරගුළු දමා ගෙන දරුවා ප්‍රවේසම් කර ගන්නැයි නාහිමියන් පැවසීය.

ටික වේලාවකට පසු පරළු වූ ස්ත්‍රියක් කාමරය වටේ දුවමින් "අනේ මගේ දරුවා දෙන්න. දෙන්න මගේ දරුවා" කියමින් මොර දෙන්නට විය. මේ නාහිමියන් රැකගත් දෙවන අවස්ථාවයි.

සුළඹගෑනිය අවසන් වූ පසු ආපසු ගෙදර යන්නට අවසර පතා නාහිමියන් වෙත ආරාධනාවක් ද කළෙමු. අනුරාධපුර යන අවස්ථාවක අපේ ගල්ගමුවේ නිවාසයට වඩින්නට යැයි කළ ආරාධනය උන්වහන්සේ පිළිගත්හ.

මේ අතර 71 අප්‍රේල් ත්‍රස්තවාදී අරගල ආදිය අවසන් වැ ටික කලකට පසු අනුරාධපුර ගමනේ දී දිවා දනය සඳහා අපගේ නිවහනට දන්වා ලිපියක් යැවීමි. මගේ අසීමිත භක්ත්‍යාදර බෝධිසත්ත්ව ගුණෝපේත නාහිමියන් අපගේ නිවහනට පැමිනීම අපට නොහිමි සොම්නසෙක් විය.

එදින දින දෙකක් නිවාඩු ලබා අප රාජභෝජනයන් සහිත උපරිම ශක්තිය යොදා දනය පිළියෙල කළෙමු.

උන්වහන්සේ තරමක් කල් වේලා ඇතිව වැඩමවා නිවාස අවට සැරි සැරීය. අප දනය හිතවතුන් කිහිපදෙනෙකු කැඳවාගෙන පිළියෙල කළෙමු.

උන්වහන්සේ සමඟ අබේසේකර කළු මහත්තයා හා තවත් දෙපළක් පැමිණ සිටියෝ ය. නිවස පිටුපස තරමක් උස් වූ ගොඩැල්ලක් ළඟ නැවති නාහිමියන් සිනා පහළ කළහ. එවිට මෙහි ප්‍රාදේශිය නායක වූ මුදලිහාමි සේනානායක ඇත්තාගේ මඟුල් මඩුව යැයි පළ කළෙන් මම මෙතැන භාරා බලන්නදැයි විමසුවෙමි. වැඩක් නෑ ඔතන ඇත්තේ පිත්තල සෙම්බුවක් පමණක් යැයි පළවිණ. එය එපමණයි.

සවස් වරුවේ අප නාහිමියන් සමඟින් අනුරාධපුර ගියෙමු. එහි දී රුවන්වැලි වන්දනා කොට සෑ ප්‍රදක්ෂිනාවේ යෙදෙන ගමන් සලපතල මළුවේ පිහිටි ගල් පිළිමයක් ඉදිරියේ නැවති නාහිමියෝ සොම්නස පළ කළෙන් අප ඒ පිළිබඳ විමසීමු.

මේත් එක් භවයක් බවත් භාතිය රජතුමාගේ පිළිරුව ඒ බවත් උන්වහන්සේ පළ කළහ. මේත් නාහිමියන් යම් මැ පුබ්බේනිවානුසයක් ඥාණය යි මම සිතමි.

වන්දනාවෙන් පසු නාහිමියන් ඇතුළු පිරිස එහි ලැගුම් ගත්හ. අප ආපසු ගල්මඩුවට පැමිණයෙමු. මෙතෙක් මා උන්වහන්සේ මා හා ඇති ළබැදි සබැඳියාව පෙන්වීමට යි ප්‍රයත්නයක් දැරුවේ.ලබන ලිපියේ සිට උන්වහන්සේ ම සුරතින් ලියන ලද්දක කොටසක් විස්තර සහිතවැ.